# සත්‍ය ඖෂධ සංග්‍රහය

— හෙවත් —

# ගෘහ වෛද්‍යයා.



දිය නෙත මුනිඳු වදහළ සදහම් මිහි ර
ලොව සත එතර කරවයි රුදු බව සයු ර
හිත වත ලෙඩ දුකට පිහිටන ඔසු දහ ර
ඇත පොත පුරා මේ නරඹනු මැන ඇසැ ර

පත් වන සත ගතෙහි නෙක නෙක රෝ වියා දී
සෙත් කර වන ලෙස්ට සෙදු වෙදවරු ආ දී
අත් දුටු පුදුම ගුණපුතු නෙක බෙහෙත් වී දී
සත් ඔබු සඟග නම් මෙය වෙයි නිසි පරි දී

වෛද්‍ය කේ. ඒ. ජී. විල්සන්

1956

නමොබුද්ධාය.

# සත්‍ය ඖෂධ සංග්‍රහය හෙවත්

# ගෘහ වෛද්‍යයා.

---

ලොවෙක පැණවතාණන් තුන්ලොවේ ශ්‍රීමතාංතන්
සමග දම් රදුනන් – ඒ සුවාසූ දහස් දම්
සසුන බරනදුනන් – සහරුවන් ශ්‍රී උදුනන්
වඳිමි අත් මුදුන් දී – මම මහත් පෙම් දයාවෙන්

1 **හිසරදයට**– සුදු හඳුන්, සිඩිගුරු, අඹ, දෙඩම් ඇඹුලෙන් අඹර තලලේ ආලේප කරනු.

2 ,, සවිඳලුනු, සුදුළූනු, තල මීපැණියෙන් අඹර තලලේ ගානු.

3 **හිසරුදවට නස්‍යයක්**– වැල්මී, ගිතෙලින් උරච්චි කර නස්‍ය කරනු.

4 ,, කොකුම්මල්,සීනි,අඹර ගිතෙලින් කකාරා නිවා නස්‍යකරනු.

5 ,, නික දළු යුෂ, එළගිතෙල්, කළු උක්ගස් පැණි, අමු ඉඟුරු ටිකක් තනකිරි සමග කකාරා නිවා නස්‍ය කරනු. හිසේ අමාරුවලට යහපති.

6 **ඉරුවාරදයට**– සුදුළූනු, ගස්බුලත් එකට කොටා යුෂ ගෙන නස්‍ය කරනු.

7 ,, කතුරුමුරුංගා මල්, රතුළූනු එකට තලා යුෂගෙණ නස්‍ය කරනු.

8 **නාසයෙන් ලේ යෑමට**– දෙළුම් මල්, තලා යුෂ තනකිරි සමග නස්ත කරනු. – ආඩතෝඩා කොළ කොටා හිස ගල්වනු.

9 **කන්කැක්කුමට**– දෙහි ගෙඩියක් ගෙණ ඇස්ස කපා ඇතුලට සවිඳළුනු කෑල්ලක් දමා වසා උනු අළු යට දමා තම්බා නිවුනාම බින්දු තුනහතරක් කන වක්කරනු

10 ,, මුරුංගා මැලියන් තලතෙල් සමග කකාරා නිවා කන වක්කරනු.

11 **දත්කැක්කුමට**– සවිඳළුනු පිටිකර තලතෙලට දමා උනුකර කට සෝදනු. තුන් හතර විටක්.

12 ,, නිකකොළ කොටා යුෂගෙන වලහසාල් කුඩුකර දමා කකාරා නිවා කට සෝදනු දෙතුන් විටක්.

13 **දත්මුල් දියවීමට**– චීන අල පිටි කබලෙන් බැද කපුරු සමග අඹරා දත් මදිනු.

14 ,, කලාඳුරු අල, රසාංජන මීපැණියෙන් අඹරා දත්මදිනු විදුරු මස් දියවී මුඛය දුගඳ අයට යහපති.

15 **කුරුලෑවලට**- වියලි වසු ගොම පුළුස්සා අළුගෙණ ගිතෙල් සමග ලෝහ බඳුනක දමා කකාරා ගානු.

16 ,, ගෝරෝවක ඇල්දියෙන් අඹරා ගානු. උදය සවස.

17 ,, කුඹුරුඇටමද, එම පොතු එලකිරෙන් අඹරා ගානු.

18 **කන් පැසවීමට**- සමන්පිච්ච කොල කොටා යුෂගෙණ තලතෙල් සමග කලතා කන වක්කරනු. කන සෝදනු.

19 ,, රත්හඳුන් තනකිරෙන් ගලගා කන වක්කරනු. කන් කැක්කුමටද යහපති.

20 **බඩේකැක්කුමට**- ලිප මැද්දේ අළුනෙණ ලුනුවතුරෙන් දියකර පෙරා බොන්ට දෙනු ලදරුවන්ටත් යහපති.

21 ,, දෙහිකොල යුෂ, ලුනුදිය, තලතෙල් සමග කලතා දෙනු.

22 **පිලිස්සීමට**- තේ කොල හොඳට තම්බා තද කහට ගෙණ පුලුන් පොඟවා එලනු. වරින්වර තේ කහට වතුරෙන් තෙමනු.

23 **පිලිස්සුන වහාම** - දෙහි ඇඹුලෙන් රෙදිකෑල්ලක් පොගවා එලනු. වරින්වර තෙමනු දෙහි ඇඹුලෙන්

24 **පිලිස්සුන විගසම**- මීපැණී ගෑම යහපති. විස නසයි.

25 ,, අන්නාසි කොළ කොටා යුෂ ගෙණ ලුනු වතුර සමග කලතා ගානු.

26 ,, ලුනුඇටයක් කුඩුකර එළුගිතෙල් සමග කලතා ගානු.

27 **පිලිස්සීමෙන් ඇතිවූ ගිනි විසට**- පුනුප් යුෂ පොල්කිරි සමග කලවත්කර බොන්ට දෙනු ගිනි විස නසයි.

28 **පිලිස්සීමෙන් ඇතිවූ වනවලට තෙලක්**- බුරුල්ල කොබ (දළු) ගුඩුපොල් කොටා යුෂගෙණ තෙල්සිඳ පුලුන් සමග එලනු.

29 **කිසිල්ලේ එන ගෙඩිවලට**- හොරඉටි, කැකුණඉටි, මීඉටි,කපුරු සිවන්ගුරු, තිත්ත අබින් එක පමණ ගෙන එරඬු තෙලින් අඹරා රෙදිකෑල්ලක ගා එලනු.

30 ,, පැසෙව්වාට පසු තල, එරඬු ඇට, නෙල්ලි එකතරමට ගෙණ කබලෙන් බැද එළුගිතෙලෙන් අඹරා ගානු.

31 ,, අළුපුනුප් කොළ ඇල්වතුරෙන් අඹරා ගෑම යහපති.

32 **දදවලට**- තෝර ඇට, කොසඹ කොළ, අරළු, මිනී හිස් කබල් දළුක් පලු යුෂින් අඹරා ගානු. (සතියෙන් සුවවෙයි.)

33 **දද කුෂ්ඨ වලට**- සියඹලා ඇට මද, නොරක පොතු, ගුඩුපොල් එකපමණ ගෙණ කොටා මිරිකා දිය නොදමා යුෂගෙණ අව්වේතබා තෙල්සිඳ ගානු. ගෙන්දගන් කුඩු ටිකක් යොදා ගැනීම හොඳයි.

34 ,, ජීනක, අරළු සිඩිගුරු, සව්දලුනු, තෝර ඇට, කොච්චම්, අත්තන කොළ සමවගෙණ නාල්පානුවෙන් අඹරා ගානු.

35 ,, පල්ලමානික්කන් කලුදසි, රත්නෙවොල් කලුදසි, අඹරා පොල්තෙලට දමා පදමට සිඳ ගානු (දද කුනට නසයි.)

36 **කඩුවේගන්වලට-** තොලබෝ අල උනු අළුයටින් තම්බා මීපැණියෙන් අඹරා ගානු.

37 ,, වරාකොළ, කොල්ලන්කොළ, කරිවිලකොළ, හබරල අල, කොහොඹකොළ, හැඹිලිපොල්, අමුකහ මේවා සමව ගෙණ කොටා මිරිකා යුෂගෙණ වලහසාල් කුඩු, පල්ලමාතික්කත් ගෙන්දගම්, පෙතිහෝරඇට මෙය සමව ගෙණ අඹරා පළමු යුෂට දියකර තෙල් සිඳ ගානු.

38 ,, සියම්දුඹුලු, දුම්මල කොටා පරත පොල්තෙල් ගා ඊ මතුපිට කුඩු සලනු.

39 **විසප්පු ගෙඩිවලට-** නිකමුල් පොතු, රුක්අත්තන පොතු, අරළු, වියලි ඉඟුරු එකතරමටගෙණ සියඹලාකොළ යුෂින් අඹරා ගානු.

40 ,, වරාමුල්, නිකමුල්, අබ, වෙනිවැල්, අත්කහ සමභාගව ගෙණ හාල්පානුදියෙන් අඹරා ගානු.

41 **සෙම්ගෙඩිවලට-** මුරුංගාමුල්, ඇඹුල්දොඩම් ඇඹුලෙන් ගලගා හක්කෙ තබා සෙම අරිනු.

42 ,, ඉද්දමුල් ඇඹුල්දොඩන් ඇඹුලෙන් අඹරා තබා සෙම අරිනු.

43 ,, ලුනු, ගම්මිරිස් කුඩුකර තස්තාරන් බිකකට තබා සෙමඅරිනු.

44 **ඉදිකටු ඇනුනාම-** තොලබෝ අල, වෙඩිලුනු. කැකුළු හාල් අමුකහ, පොල්කිරෙන් තම්බා අඹරා තබා බදිනු.

45 ,, උඹලකඩ ඇල්වතුරෙන් අඹරා ඇනුන තැන තබා බදිනු.

46 **ගල්තැල්මට-** අත්තනගෙඩි දෙකක් ගෙණ එලමුත්‍රයෙන් තම්බා එල ගොම සමග අඹරා බදිනු.

47 ,, පෙරුම්කායම්, සුදුළූනු කෙසෙල්කොලයක ඔතා උනු අළු යටින් තම්බා අඹරා බදිනු. කොස්ස ඇදේ.

48 **සැදිගන එන ගෙඩිවලට-** අරළු, කයිප්පු, රත්කීරිය, රත්මල්, වදමල්, එකපමණගෙන කපුරු පෙති 2 සමග දෙහි ඇඹුලෙන් අඹරා ගානු.

49 **පැසවාපු ගෙඩිවලට-** කලාදුරු, තල, කළුදුරු, සතකුප්පා- වීපොරි එකතරමට ගෙණ එලකිරෙන් තම්බා අඹරා ගානු.

50 **ගෙඩිවල සාරේ ඇදෙන්ට-** කළුදුරු, වීපොරි, එරඬුඇට, උළු හාල්, තල එකපමණගෙන එලකිරෙන් තම්බා අඹරා ගානු.

51 **වනවලට-** එරබදු දළු, කහ, ලුනුලා කොටා මලවා බදිනු.

52 ,, අගුනකොළ; පොල්කුඩු, අමු කහ ලුනුනා කොටා මලවා බදිනු.

53 ,, පත්පාතික්කම් (කාමරේ පුළුන්නා) තිත්ත අබින්, ඉඟුරු. සහිඳලුනු කාපද බැගින් ගෙන මීපැණියෙන් අඹරා [illegible].

54 **වනවලට පැලෑස්තරයක්**- විල්දුම්මල, පල්ලමානික්කම්, ලුනු වැලි, කිකිළි බිත්තර සාරුවෙන් අඹරා රෙදිකෑල්ලක ගා එලනු.

55 ,, පල්ලමානික්කම්, කැකුනඉටි, සුදුදුරු, කළුදුරු, මීඉටි, සිවන්ගුරු, ගොරක, සාරනමුල් මේ සැම සමව ගෙන පස් තෙලින් අඹරා වනවල එලනු. සියලු වන ගුණවෙයි අත්දිටුවකි.

56 **කැපුනාට**- සුදුළූනු, ඉඟුරු, කැප්පිටියාදළු, සීනි සමග අඹරා බඳිනු.

57 ,, තැඹිලි පිත්ත කොටා යුෂ මීදෑල්ල දළු සමග අඹරා කැපුන් තුවාලයේ බඳිනු. (අත්දිටුවකි.)

58 **කම්මුල්ගායට**- අමුකුරා අලයක්ගෙන දෙහිඇඹුලෙන් අඹරා ගානු.

59 ,, අලිහක්කක්ගෙන දෙහිඇඹුලෙන් උරච්චිකර ගානු.

60 **කැල්මට**- එලගිතෙල්, තලතෙල්, මීපැණි එකපමණ ගෙණ කලවන්කර උදය සවස තුන්වරුවක් ගානු.

61 ,, **අත්කහ ටිකක් ගෙන අඹරා ලුනුවතුරෙන් දියකර ඊට පොල්තෙල් ටිකක් සහ රෙදිපටියක් දමා සකඩ භාජනයක දමා ලිප තබා සිදුනාම රෙදිපටියෙන් තවා තදකර බඳිනු.**

62 **කැළුන් උළුක්කුවට**- දියලුනු ටිකක් ගෙන පොට්ටනි බැඳ **උතුරන වතුරට ලුනුපොට්ටනිය ඔබාගෙන තුන්වරුවක් තවනු.**

63 **බිලිඳුනගේ කිරි මැලියමට**- කහට පුවක්, අරළු, කෝමාරිකා යුෂින් අඹරා දිවේ ගා පිසදමනු

64 ,, **ලුනුවිල, අරළු, රත්මල් කැකුළු වන්ඩුවෙන් තම්බා මිරිකා තනකිරි; සීනි සමග ටික ටික පොවනු.**

65 ,, රතුළූනු, අරළු, කරුන්කා පුවක් සමව ගෙන කෂාය කර පොවනු.

66 **බිලිඳුන්ගේ බඩවැල සාත්වෙනඩාට**- අට්ටික්කා තොළු පොතු **එකපමණගෙණ** කොටා යුෂ හීනටි හාල් සමග උයා උදය **සවස කන්ට** දෙනු.

67 ,, කොහිල අල, අට්ටික්කා ගෙඩි පොල් සමග කොටා යුෂ **උදය සවස පොවනු.**

68 **බිලිඳුන්ගේ බඩඕකෑක්කුමට** වදකහ, සාදික්කා දෙහිඇඹුලෙන් **උරච්චිකර සවල්පයක් පොවනු.**

69 ,, වදකහ උරච්චිකර ලුනුවතුර සමග කලවන්කර පොවනු.

70 **බිලිඳුන්ගේ පනු වමනෙට**- අසමෝදගම්, වදකහ, පත්පාඩගත් තලා උතුරන වතුරට දමා තම්බා පෙරා මීපැණි ටිකක් දමා දෙනු.

71 ,, සාදික්කා මිදය දෙහිඇඹුලෙන් උරච්චි කර පොවනු

72 ,, **කොහොඹමුල් කෂාය කර පෙරි කුඩු සීනිලා දෙනු.**

පනුගාය ලදරුවන්ට බොහෝකොට සෑදෙන්නාවූ ආබාධයකි. ඔක්කාරය, අජීර්ණය, උන, නගය කැසීම, කටේ අතලෑම ඇස් බාගෙට පියා නිදාගැනීම බඩ යටකර නිද, ගෑණීම බඩේ රුජා ගැස්ම යනාදී උපද්‍රව දක්නට ලැබේ.

73- කරාබුනැටි වසාවාශි තම්බා වලහසාල් කුඩු ටිකක් දමාදෙනු

74- **වලිප්පුව්ව**- වලිප්පුා සෑදුන වහාම ලුනු වතුර ටිකක් පො වනු. කුඩාදරුවන්ට පනුවන් මේරීමෙන් ඇතිවෙන පනු, ගාය භයානක රෝගයකි. කුඩා ළමයින්ට පනුගාය නොසෑදීමට අත්දිටු ප්‍රතිකාරයක්

75- **ප්‍රතිකාරයක්**- වලග සාල් පිටි, අසමෝදගන් පිටි, බටකිරිල්ල කොල වේලා පිටි, වියලි ඉඟුරු පිටි. විපොරි එක පමණ ගෙණ පොල් පැනියෙන් අනා ගුලි සාද, ගෙණ උදේට එක බැගින් දෙනු (පනුගාය නොසෑදේ)

76- **බාලයන්ට ඉතාමත් හොඳ බෙහෙතක්**- ලාපොල් ගොබ යක් ගෙණ ගින්වෙන්ට කපා මුට්ටියක ද වතුර බෝතල යක් වක්කර බාගෙට සිඳුවා පෙරාගෙණ ඊට සුදු සීනි රාත්තල් බාගයක් දමා සරුවත් පැණි වගේ උනුකර තබාගෙන උදේ සවස තේ හැන්දෙන් දෙකක් දෙනු. බඩ මනන්වීම, කෙට්ටුවීම කෑමකන්ට බැරිකම, පැදුරේ ජලමල කිරීම, මාන්දත් යනාදී රෝග නසයි. සත්තයි.

77- **අස්මරී (මුත්‍රායශයේ ගල්)** ලුනුවරන සොතු, වියලි ඉඟුරු ගොසාටු කලන් 4 බැගින් ගෙණ පත 8/ 1 සිදවා යවකාර ලුනු සමග උක් හකුරු දමා දෙනු.
පොල්පලා තම්බා බීමෙන් අසමරි නොසෑදේ

78- **ඇදුම්ව**- කටුවැල් බටු සිඹිඟුරු නෙලුත්දඬු, රසකිඳ, කලාඳුරු කකීටශ්‍රිංගි කලන් 2 බැගින් ගෙණ පත 8–1 සිඳව බොනු.

79- ඉඟුරු, ගම්මිරිස්, තිප්පිලි, පෙරුම්කායම්, කොත්තමල්ලි කලන් 2 මන්වාඞි 8 බැගින් ගෙණ පත 8–1 සිඳවා සීනි දමා උදේ සවස බොනු.

86- මීපැණි, අවුන්ස 2 යි පිරිසිදු එරඬු තෙල් අවුන්ස 1 යි එකට කවලන්කර තේ හැන්දෙන් එකක් උදය සවස දෙනු. **කුප්පමෙනියා කොළු ව්‍යජනය සමග බත්දෙනු.**

**දියවැඩියාවට-** මේරෝගය වැලඳුන කල්හි බත්කෑම අඩු ක ඒ වෙනුවට හරක් මස් එළු මස් යනාදි කෝසි යම් ම කෑම වරදක්නොවේ. මුත් ඇට බෝන්චි, කඩල, ආදී ධාන්‍ය වගී පාවිච්චියද ඇල්වතුර ස්නානයද පුරුදු කරනු.

81 ,, විෂ්ණු ක්‍රාන්ති මුල් වැල් බැබිල මුල් කලන් 6 බැගින් ගෙණ කසාය කරබීම යහපති.

82 ,, කිරිබඩු අල නෙල්ලි චූර්ණකර තල එලකර එකට මිශ්‍ර කර ගිතෙලින් පදමට අනා වලඳනු (ප්‍රත්‍යක්ෂයි.)

83 ,, නාපිරින්ත මුල්ගෙණ පිරිසිදුකර හීන්වෙන්ට ලියා රට ඇල් වතුරේ දමාතියා උදේ ගෙණ පෙරා දන හාල් සෝද කැඳ පිස බොනු· සතියක් පමණ බොනපිට මෙහි ගුණය අවබෝධවේ.

84 ,, ඕලු ඇට පිටි බැඳ කලන් 10 වේලිච්ච මුද්දරස් පලන් කලං 10 එකට අඹරා හොඳ මී පැනි කලං 10 සොද කලවන් කොට තබාගෙණ. උදේ කලන් 4 වලද උනුකල එලකිරි බොනු. සවසට කලන් 4 කා කොත්තමල්ලි තම්බා වතුර කාලක් පමණ සීදු සීනි දමා බොනු.

මෙය ඉතාමත් හොඳ බෙහෙතකි.

85 **අර්ශස අමාරුවට-** සේනකොළ චූර්ණ කරගෙණ ඒ බරට වියලි මුද්දරස්පලන් ගෙණ මීපැණියෙන් අඹරා තිබ්බොටු පමණ ගුලි තනා ගෙණ රෑනින්දට යනවිට ගුලියක් ගිලිනු බඩ හොරතම් දෙකයි.

86 **ලේයන අර්ශස් අමාරුවට-** ඇඹුල් දෙඩන් යුෂට සුකිරි කුඩුදමා වසාතබා උදේ ගෙණ බොනු

87 ,, අරළු, උක්ගකුරු, තිප්පිලි මී පැණියෙන් අඹරා වලදනු. (ලේයාම නවතී)

88 **මූලග්නියට සහ ශරීරය දුර්වලත්වයට-** සිංහල කැකුළු හාල් පතක් ගෙණ කැද පිනීස ලිපතබා කොහිල අල ගොටුකොළ, රතුළූනු, අලුපොල්, එකපමණ ගෙණ කොටා මිරිකා යුෂ ගෙණ එලකිරි බෝතල් බාගයක් සමග ලිප තිබූ කැදට සෝද, කැදකාද ගෙණ දින පතා උදේ බොනු.

89 **සන්නිට ඇතිවන ලෙම්මාලෙට-** අට්ටික්කා පොතු හැඞිලි ල් වදමල් සුඹුව ගෙණ වතුරෙන හාමබා මරකා පෙරා ගෙණ මී පැණි දමා බොන්ට දෙනු.

90 **වාතා අමාරුවට සහ බඩේ කැක්කුමට-** සුදු ළූනු බික් සවල්පයක් ගෙණ ඇතුල සාරා හොඳ පෙරුම්කායම් එහි පුරවා වසා හුඹස් මැටි තෙණ අනා සුදුළූනු බික් මැදිකරවසා ලිප මැද්ද සාරා එහි තබා වසා ගිනිදල්වනු සුදුළූනු තැම්බෙන තරමට බාගෙන. මැටිගලවා සුදුළූනු ගෙන සුදුහුරු කබලක දමා බැද ඊට වතුර දමා තම්බා ඒ වතුරගෙණ සුදු ළූනු අඹරා බෝල කබල පමණට ගුලිකර තබා ගෙන සුදුහුරු කබලක දමා බැද ඊට වතුරද තම්බා ඒ වතුරෙන් ගුලිය බැගින් දෙනු.

සියළු වාතරෝගයට යහපති. මෙය සෑද තබාගතමැනවී.

91 **මලබද්ධය හෙවත් බඩවේලීමට-** පත්පාඩගත්, දුන්මැල්ල එක සමණ ගෙන තම්බා සීනිදමා දෙනු.

92 ,, අරළු ලුනුවිල එක පමණ ගෙන තම්බා සීනි දමා බොනු.

,, ශුක්‍ර මේහය හෙවත් සිහි නෙත් ධාතු පහවීම හේතු කොට ගෙන ඇති විය හැකි ව්‍යාධි සංක්ෂෙපයෙන්- මූත්‍රා සමග ධාතු පහවීම; සංභෝගයට අපොසත් වීම, ධවජභඞ්ගය, සංසර්ගයට එලඹුන වහාම ශුක්‍ර ක්ෂයවීම, ලිහුව ස්වභාවයට වඩා කුඩාවීම. අශීස්හට ගෙන ඉන් ලේ යෑම, ශරීරය දුර්වලවීම, කාස, ක්ෂය, ප්‍රමේහ ක්ෂතාදී නොයෙක් රෝගද ඇතිවිය හැකි බැවින්, ශුක්‍ර ධාතුව මදකුදු අස්ථානයේහි ක්ෂයවීමට ඉඩ නොතබා ආරක්ෂාකාර ගැනීමට උත්සාහ ගතයුතුයි.

93 **ශුක්‍රමෝචනයෙන් ඇඟ දිරාපත් වන අයට-** බිත්තර දෙකක සුදු මදයගෙන රතුළූනු යුෂ තේ හැන්දක් සහ හොඳ කාවලත් නැති තලතෙල් තේ හැන්දක් සමග තවට්ටුකර උදේ හිස් බඩ බොනු සතියක් පමණ බොන වීට එහි ඇති පුදුම ගුණය අවබෝධවේ. ශුක්‍රමෝචනය නසා ශරීර ශක්තිය ඇතිකරයි.

94 ,, හෙල ඔලු ඇට, පිපිපලත් 1 රසකිඳ පිටි පලත් 1 නෙළුත් ඇට පිටිපලත් 1, සීනි පලත් 1, එලනි කොල්පලත් 1 මීපැණි පලත් 1, සියල්ල එකට කවලත්කර තබාගෙණ වරකට කලත් 3 ගෙන උදේ සවස අනුපාව කර එලකිරි උනුකර සීනි දමා බොනු කිරිනොබොන දවස්හි ඇල්වතුර නැයුතුයි. උෂ්ණ නොවූ ධාතුවඩන සැහැල්ලු ආහාර ගතයුතුයි.

95 **ඉතාමත් හොද ඖෂධයක්-** ලුනුවිල යහමින් ගෙණ සුඹ කර වතේලා කොටා වතුරදා මිරිකා පෙරා පැදෙ[illegible] තබනු. පසුදින මිදීහිබෙන පිටි ගෙණ වේලා බෝතලයක සුරුකිව තබාගෙන වරකට කලන් 1 ගෙණ මීපැණි යෙන් හෝ ගිතෙලින් හෝ සුදුසීනි සමග හෝ වලදනු

මෙහි ඇති ගුණ සවල්පයක් දියවැඩියාවට, අගීස්, නොරී, දද, කුෂඨ, නසා සප්ත ධාතු වඩයි. ශරීර ශක්තිය ඇතිකරයි. ඉගතීම ලබන ලමයින්ට එලගී තෙල් සමග දීමෙන් පාඩන් සිටීම, කඩහඩ ඇතිවීම ඥානශක්තිය ගෙන දීම, වික්කල් ගොළුගති පවා නැතිකර ශරීර ලක්‍ෂණ ඇතිකර බ්‍රහස්පති හා සමාන ඥානශක්තියක් ඇතිවන බව යෝග රත්නාකරයේ සඳහන් මෙම කවිදෙකෙන් ප්‍රකාශවෙයි.

මදරතුවන් ඔබ සුරුවන් වියලා ය
සුනුකරමින් එලගිතෙලෙන් දවටා ය
වැලදුවොතින් සතියක් නොවිරදවා ය
සුරගුරුවන් ඔහු ඉදිරියෙ නොසිටී ය

මදරත් බැමිතිරිය වියලා පොඩි රුගෙන ත
ගිතෙලින් වත් තැත හොත් එඹ වැලදූ තැ ත
වික්කල් ගොළුත් බස පැකිලිමක් නීය ත
එක කුත් සුර ගුරුට පිලිමල් වෙති මෙයි ත

96 **ශක්තිය වැඩිමට ආනුභාසම්පන්න බෙහෙතක්-** ගොකටු රසකිඳ, තෙල්ලි, එක තරමට ගෙන චූර්ණකර එලගිතෙල් මී පැණියෙන් අනා තබාගෙන වරකට කලන් 2 බැගින් ගෙණ උදේ සවස වලඳා එලකිරි බොනු.

97 **නාරසිංහ රසායනය-**

| | | | |
|---|---|---|---|
| හාතාවාරිය පිටිකලන් | 16 | කීරිබදු අල පිටි කලන් | 16 |
| බිත්තල් අල පිටි කලන් | 20 | එලනීවොල් පිටි කලන් | 10 |
| බඳුල්ල ඇට පිටිකලන් | 32 | රසකිඳ පිටි කලන් | 16 |
| තෙරෙන්චි පිටි කලන් | 16 | තල බැද පිටි කලන් | 16 |
| වෙලිච්චව ඉඟුරු පිටිකලන් | 32 | ගම්මිරිස් පිටිකලන් | 32 |
| තිප්පිලි පිටි කලන් | 32 | උක්සීනි කලන් | 70 |

එලගී තෙල් බෝතල බාගයි. මී පැණි බෝතල් බාගයයි. එකට කවලන්කර යයි. මේවා සිදුනිව අඹරාගෙන.

ගිතෙල්, මී පැණි දෙකෙන් අතාගෙන වීදුරු භාජනයක ගිතෙල් ගා එහි බෙහෙත්ද තබාගෙන වරකට කලන් ½ බැගින් උදේ සවස වලඳ එලකිරි උනුකර සීනි දමා බොනු. මෙහි ගුණ අගීස්, දියවැඩියාව ප්‍රමේහ, පීනස මූත්‍රා සමග ධාතු බිට් යෑම රක්තවාත, පපුවරිදුම, සිහිනෙන් ධාතුයෑම. අප්‍රාණික ගතිය, බඩගිනි අඩුකම, පාණ්ඩුව, හිරිවාත, තුනටිය රුදාව, කාස, ඇදුම, දරුණු වාත රෝග, හොරි, දද කුෂ්ඨ තහර දුර්වලකම, යනාදී රෝගනසයි. සැමට ජාඩි කරවල, හිතියන් මාස්මාළු විනා කිරි, මත්, පැත්, අලවනී, හොදතැත- බදුල්ල ඇට, එල නිවොල් විෂ මරා ගතයුතුයි. මෙය සෑද ගැණීමට අපහසු නම් අපෙන් ඉල්ලනු.

98 හස්තිබල චූර්ණය- සුදුහඳුන්, සැවැන්දරා, සුවඳ කොට්ටන්, ජටාමාංස, අමුක්කරා, හාතාවාරිය අල, බිත් තල් අල, වැල්මී, මහ ගොකටු කෙල්ලි, වදුරු මෑඇට, එකවගීතෝ රාත්තල් කාල බැගින් පිටිගෙන පිටි සීනි රාත්තල් 3 සමග සියල්ල එකට අතා වීදුරු බඳුනක දමා හුලන් නොවදින සේ තබා ගෙන එල කිරි සමග උදයට කලන් 3 බැගින්ද උනුවතුර සමග සවසට කලන් 2 බැගින්ද වලඳනු.

මෙහි ගුණ- පුරුෂ වීර්‍ය්‍යය ඇතිකරයි. ඥානශක්තිය වර්ධනයකරයි. හිසේ රෝග දුරුකරයි මස් ඇට, ඇට මිදුලු, ලේ, ශුක්කල ඇතිකරයි. සවුලකරයි. පෙම්ගතිය තරුණ ගතිය ඇති කරයි. තුනටිය, අතපය රිදුම් වාතාමාරු දුරුකර, ශක්තිය වර්ධනය කරයි. කරවල, ජාඩි මත් පැත් විනා කිරි කාරිවිල කොස් දෙල් යනාදිය අගුණයි.

ශ්වෙත ප්‍රදරය හෙවත් සෝමරෝගය- සෝමරෝගය වනාහී විවාහයට ඇතුලත්වූද, අවිවාහක වූද ස්ත්‍රීන්ට ඇතිවන රොගයකි එය ඇතිවීමට හේතු සවල්පයක් අධික සංසර්ගය අධික සෝකකිරීම, බොහෝ වේසමාත්සිවීම ඍතුකාලයේ දී සම්භොගවීම, බාල කාලයෙන් විවාහවීම යනාදී නො යෙක් හේතූන් නිසා ඇති වන ආබාධයකි.

99 කොතල හිඹුටු කලන් 12 ගෙණ කෂායකර බොනු.
යහපති

100 ඔලුදඹු කොටා මිරිකා ගීතටි හාල් සමග කැඳපිස දෙනු

101 අධික විරේකයට- කොහිල අල, සුෂගෙන කැරන් අල. අබින් වී ඇට යකින් සුෂගෙන පැණි තෝ හැඳිදෙකකි. පත්ගුවක් දමා දියකර බොන්ට දෙනු.

102- කුරුදු පොතු තම්බා පෙරා බොන්ට දෙනු. අධික විරේක හවනි.

103- අඩිතාවම නයට- පැනි දොඩන් යුෂට බිත්තර දෙකක සුදුමදය සමග බ්‍රැන්ඩි තේ හැන්දක් දමා කලතා පොවනු

104- පත්පාඩගත් කෂායකර මී පැණි ටිකක් දමා බොන්ට දෙනු.

105- බෙලිමුල් රසකිඳ කෂායකර මී පැණි දමා බොන්ටදෙනු.

**වසවිෂ කැවුනා දැනගන්විට මේ බෙහෙත් දෙනු.**

වසක මි න් යමෙක් උනිතම් දකින්න ට
හෙළ සඳුන් කල්ක අළු පුහුල් ජලය ට
ගෙනලමින් සිනි සහ දුනොත් බොන්නට ට
එම දුකි න් එසත ගැලවේය නියමෙ ට

106- අළු පුහුල් යුෂ සුදුහඳුන් සීනි සමග දෙනු.

කමින් වෂ යමෙක් මරුවට ලන්වේ ද
ලමින් ඉඳිබඩද එළකිරි සමග සි ද
සොඳින් රුගෙන දුන්නොත් බොන්නට එස ද
එසින් සියළු විෂ නැතිවෙයි මෙ ඔසුනෙ ද

107- ඉඳිබඩ යුෂගෙන එළකිරි සමග කලතා බොන්ට දෙනු.

වරකා ගස පතා මලගෙන ගලකල වා
එමකා කල්ක ගෙන පත කිරි පතක නො වා
විෂකා පානයට දුන් නොත් මෙලෙස ල වා
වසකා මියන සැමසත මරනින් මූද වා

108- වරකා ගසක පතා මලක් ගෙණ අඹරා තනකිරි සමග දෙනු.

109- **හතුකෑ විෂට-** තිප්පිලිමුල් එළකටරොඩු මූල් කලාදුරු අල සමවගෙන උණු දියෙන් අඹරා පොවනු

110- **අබින්විෂට-**පේරකොල කලටි පොල්කොටා මිරිකා පොවනු,

111- **කංසාවිෂට** කෝපිවලට එළගිතෙල් සවල්පයක් දමාපොවනු

1ı2- **ජයපාලවිෂට-** එළකිරි අළු පුහුල් යුෂ සුදුහඳුන් සමග පොවනු.

113- **පිටගැස්මට-** කැපුන්, කෙටුන්, තැළුන් බිඳුම් යනාදියෙන් හෝ වෙන මාර්ගයකින් ශරීරයේ ලේ යැමක් ඇතිවෙන්ට යෙදුනොත් පිට ගැස්ම සැදෙන්ට පුලුවනි. ඊට පලමු කොට කලයුතු ප්‍රතිකාරය-වෙනි වැල්ගැට, සුදුළූනු. එක පමණ ගෙන තම්බා බොන්ට දෙනු-මෙය සෙම්ප්‍ර නිශ්‍යවටද යහපත් ඖෂධයකි.

114- **බඩගින්න අඩුකමට-** අරළු කරපුන්වා තැම්බී කලත් 6 බැගින් ගෙණ පත 4-1 සිඳවා බොනු.

115- අරළු කුඩු, ඉඟුරු කුඩු; එක පමණ ගෙණ උක්සකුරු සමග හෝ සම්ඳ එනු සමග හෝ සත් දිනක් වලදෙනු.

116 **කුෂ්ඨ රෝගයට කසායක්**- වැල්මදටිය, අරළු නෙල්ලි බුළු, කටුකරෝසන, බදකහ, වෙනිවැල් ගැට, කොහොඹපොතු රසකිඳ කසායකර බොනු.

117 පීනසට සහ හිසරුජාවට- කුරුඳු පොතු පොඩි දත්මල් කොල්ලන් කොල, කළුදුරු, සුදුදුරු, කරාබුනැටි, සාදික්කා, වසාවාසි, එන්සාල්, වලහසාල් වැල්මී, සුදුහඳුන් එකවගෙන් කලන් ½ බැගින් ගෙණ චූර්ණකර පාබාගෙන නාසයට උරනු පීනැස්, දරුනු හිසරද ගුණවෙයි (සත්තයි)

118 **පීනැස් චූර්ණය**-තලිස් පතුරු කලන් 6 වියලි ඉඟුරු කලන් 2. කුරුඳු පොතු කලන් 3 ගම්මිරිස් කලන් 2 එන් සාල් කලන් 3 මේවා වේලා පිටි කරගෙන පිටි සීනි කලන් 6 සමග කලවන්කර තබාගෙණ වේලකට මන්වාඩි 2 බැගින් උනුවතුරෙන් වළදනු.

119 **කාංහඩ වැඩිවීමට**- තිප්පිලි, ඉඟුරු, බුළු, කුරුඳුපොතු සහිදලුනු සමභාගගෙන වේලා පිටිකර තබාගෙන වරකට කලන් ½ ගෙණ මී පැණි ගිතෙල් දෙකේ අනා ලෙහකරනු

120 කොට්ටන්, අමුක්කරා, තිප්පිලි, ලුනුවිල, වියලි ඉඟුරු, සමවගෙණ චූර්ණකර ගිතෙලින් අනා ලෙහෙකරනු.

ශුතවර්ධනයට සහ කඩහඬ ඇතිවීමට, ප්‍රධාන ඖෂධයකි.

121 **සියලු මුත්‍රා රෝගවලට**- ගොටුකොල, රතුළූනු, කිතුල් හකුරු එකට කොටා වතුර පාලක් වක්කර මිරිකා පෙරා ගෙණ රට කැමකා තින්දට යනවිට බොනු.

122 **මුත්‍රා සමග ධාතු පිටි යෑම නපුරු රෝගයකි. එයි අවසාන යක්ෂය රෝගයවෙයි.**-

වැල්පෙනෙල, පොල්පලා රාත්තල් බාගය බැගින් ගෙණ රතුළූනු රාත්තල් කාලක් ගෙණ තුන්වගයම එකට කොටා වතුර කාල් 3 වක්කර මිරිකා පෙරා පිරිසිදු බඳුනක් ගෙණ ලිප තබා-එළගිතෙල් අවුන්ස 2 ක් පමණද උණුවූවිට, ඉහහකී යුෂ එහි දමා හොඳට උණු කර තබා රෑකෑමෙන් පසු නින්දට යනවිට කොටසක් බොනු. ඉතිරි කොටස උදේ බොනු.

(සියලු දෙනාටම යහපත් ප්‍රතිකාරයකි. ධාතු වඩයි.)

## ඇල්ඩිරේකය

තරුණලියක් සොයමින් ගෙණ ගේතුල ට
හොස්ස ටිකක් පාද අරගත් ලග ට
රිස්ස යත්ත හරලා ඇහැසත් වත ට
හොස්ස කට වසා රූ දසත් දෙව ට

රූහිස්සේ දෙර පිහිබෑ තරුණ ලි ය
උදහැස්සේ ගෙනැමින් කට ගලමයි ය
ඇතුලස්සේ රස කලතා උකාගි ය
මලදස්සේ යත්තට පාත කරමි ය

123 අරළුපිටි කලන් 6 තැඹිලිගෙඩියක් ඇතුලට දමා වසා සවස පින්නේ තියා උදේ ගෙන පිටිසිනි කලන් 6 දමා 7 වරක් පෙරාබොනු මුත්‍රදාහය මුත්‍රාඅඩස්සිය ලේසැරව යෑම. යනාදි බොහෝ රෝගයන්ට ගුණ ගෙණ දෙයි.

124 ඉතාමත් හොඳ ගුණදායක විරේකයක්—අරළු, තිප්පිලිමුල් සහිඳළුනු. කලන්දෙක බැගින් ගෙන චූර්ණකර උදේට කෝපි මෙන් වක්කර පෙරා බොනු

125 මුත්‍රදාවිල්ලට සහ අඩස්සියට—නෙල්ලි, රසකිඳ කලන් 6 බැගින් ගෙණ වළහලා මිදක් කොටා වතුරකාල් 8–1 සිඳවා සීනි මීපැණි කලන් 6 දමා උදේ සවස බොනු මුත්‍ර දාවිල්ල මුත්‍රානදවීම බඩේ දාවිල්ල යනාදි රෝගයන්ට ගුණදායකයි.

126 ඇඟේදාවිල්ලට—පත්පාඩගත් කලාදුරු සැවැන්න. කලන් ½ බැගින්ගෙණ වතුරපත 8 1 සිඳුවා සීතල අවස්ථාවේ පානයට දෙනු.

127 අරළු, බුළු නෙල්ලි, ඇහැලපොතු කලන් 3 බැගින්ගෙණ කාල් 8–1 සිඳුවා සීනි, මීපැණි, දමා දෙවේලේ බොනු.

128 පපුවේ ඇම්මට-ඉඟුරු, එරඬුමුල්, කලන් 6 බැගින් ගෙණ පත 8-1 සිඳුවා පෙරුම් කායම් සහ සහිඳළුනුදමා බොන්නටදෙනු.

129 නස්නාරන්මුල් ගෙණ කසායකර යවකාරළුනු ටිකක්දමාබොනු

130 පපුවෙන් ලේයෑමට—කරල් සෑබකොල, කොත්තමල්ලි, හාල් පානුවෙන් අඹරා එසින්ම දියකර පෙරා පත බාගයක් බොනු

131 දෙසඳුන් කල්කය-කොල්ලු, වදකහ, වැල්මී, රත්හඳුන් සුදු හඳුන්, එකපමණගෙණ ඒබරට සහිඳළුනු දමා දෙසිඇඹුලෙන් අඹරා තබාගෙණ, වලිප්පුවට, උනට, සෙම්ප්‍රතිශ්‍යාවට ඇඟරත්වූවිට කොත්තමල්ලි හම්බාපු වතුරෙන්දෙනු—බිලිඳුන් සිටින සෑමගෙද රක් පාසාම තබාගැනීමට වටින්නාවූද සියළු මැතිමරුම් දන්නාවූද එකම බෙහෙත දෙසඳුන් කල්කයවේ.

නස්ට කාමයෙන් ඔබ පෙළෙන්නෙහි නම් ශත 10 මුද්දරයක් සමග විමසන්න.

# නොමිලේ.

---

මේ විංශතිය ශතක සිතාබලන්න. භයානක අපරාධ හදිසි අනතුරු දරුනු මිනීමැරුම්, වෙඩිතිබිලි මත්කොල්ලකෑම් පිහියාඇනුම් කෝලාහල බස්අනතුරු යනාදී විපත් දිනපතාම සිදුවනබව අසන්ට දකින්ට ලැබේ- කොයිමොහොතේ ඔබට අපලද සපලද කියා නොදත් හෙයින් එලියට බැස නැවත ගෙට එනතුරු විස්වස නැති අපල කාලයකි. අපල කාලය සපලකර ගැණීමට කෝටිශත සහශ්‍රයක් සක්වලවල්හි බුඩඥ චක්‍රය පවත්නාවූ මහානුභාව සම්පන්න 1000 වර ජීවම්කරනලද රතන යන්ත්‍රය සහ 1000 වර **ජීවම් කල රන්නෑඹිලිතෙල** පැලඳීමෙන්. ග්‍රහ අපල මාරක බාදක බෝවෙන වසන්තන රෝගජ්ල විදුලිබය හෙනබය ප්‍රේතදෝස නපුරුසිහින පෙනීම හදිහුනියන්හය මාරක විපත් නසා ඔබව ආරක්‍ෂාකරයි.

**රු 1. 10 එවා තෙල්කුප්පිය අදම ලබාගන්න**

**රතනයන්ත්‍රය නොමිලේ එවමි. මෙය අපගේ සහ ඔබගේ ප්‍රයෝජනය පිනිස පිලියෙල කරනලදී.**

**නාරසිංහ රසායනය.**

**මෙය වරක් පාවිච්චිකිරීමෙන් එහි ඇති පුදුම ගුණය ඔබට අව බෝදවෙයි එය ඔබට සාදාගැනීමට අපහසුනම් අපෙන් ඉල්ලන්න මසක බෙහෙත්. රු 7.00 දින 15 බෙහෙත් රු 4.00. තැපැල් ගාස්තු ශත 50**

වෛද්‍ය කේ. ඒ. ජී. විල්සන්
අම්පේගම බද්දේගම.

---

**උත්තර බලාපොරොත්තුව එවන ලියුම් ශත 10 ක මුද්දරයක් සමග එවනමෙන් මහත්කරමි.**